8158



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2557 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2013(2014)**




**(03) ශාසන ඉතිහාසය**

පැ තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **දෙකකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් ප්‍රශ්න **දෙකක් වත්** ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

1. (අ) සමකාලීන බුද්ධිමතුන් බුදුරජාණන් වහන්සේ වටා එක් රැස්වූ ආකාරය කෙටියෙන් දක්වන්න. (ලකුණු 06 යි)
   (ආ) තමන් වහන්සේ වෙත බඹසර හැසිර විමුක්තිය ලත් හැට නමක් භික්ෂූන් අමතා බුදුරජාණන් වහන්සේ කළ අනුශාසනය ඉදිරිපත් කරන්න. (ලකුණු 06 යි)
   (ඉ) "බුදුරජාණන් වහන්සේ විසින් ධර්ම දේශනයේ දී භාවිත කළ ක්‍රම සතරක් වේ." එම ක්‍රම **හතර** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

2. (අ) බුදුසසුනේ දියුණුවට අනුග්‍රහ සැපයූ බුද්ධ කාලීන රජවරුන් **තිදෙනෙකු** නම් කරන්න. (ලකුණු 06 යි)
   (ආ) ආරම්භක අවධියේ දී සංඝ සමාජය වැඩී ගිය ආකාරය විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (ඉ) "සංඝ සමාජය වැඩීයාමත් සමග පැන නැගුණු ප්‍රාදේශීය අවශ්‍යතා මත විනය නීති වෙනස් කිරීමට බුදුරජාණන් වහන්සේ යොමු වූහ." නිදසුන් මගින් පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

3. (අ) පළමු ධර්ම සංගායනාව සඳහා බලපෑ ඓතිහාසික හා සාමාජික හේතු කෙටියෙන් දක්වන්න. (ලකුණු 06 යි)
   (ආ) පළමු ධර්ම සංගායනාවේ දී භික්ෂූන් විසින් ආනන්ද තෙරුන්ට ඉදිරිපත් කළ චෝදනා **තුනක්** නම් කරන්න. (ලකුණු 06 යි)
   (ඉ) පළමු ධර්ම සංගායනාවේ ප්‍රතිඵල පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

4. (අ) අශෝක රජු ධර්ම ප්‍රචාරය සඳහා දූතයන් යැවූ විදේශ රටවල් **තුනක්** නම් කරන්න. (ලකුණු 06 යි)
   (ආ) බුද්ධ ධර්මය ප්‍රචාරය කිරීමෙහි ලා අශෝක රජුගේ දායකත්වය අගය කරන්න. (ලකුණු 06 යි)
   (ඉ) ඓතිහාසික හා පුරාවිද්‍යාත්මක සාධක අනුව අශෝක රජුගේ බෞද්ධ භූමිකාව පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

## II කොටස

5. (අ) අශෝක රජු විසින් දෙවන පෑ තිස් රජු වෙත එවන ලද දහම් පණිවිඩය ලියා දක්වන්න. (ලකුණු 06 යි)
   (ආ) මිහිඳු මහ රහතන් වහන්සේ ලක්දිවට වැඩම කොට දෙවන දිනයේ දී දේශනා කරන ලද්දේ කවර දහම් කොටස් දැයි පහදන්න. (ලකුණු 06 යි)
   (ඉ) ථූපාරාම දාගැබ ඉදිකිරීම පිළිබඳ ව පැහැදිලි කිරීමක් කරන්න. (ලකුණු 08 යි)

6. (අ) බුදුරජාණන් වහන්සේ පිරිනිවන් මංචකයේ දී සඳහන් කරන ලද ශ්‍රී මහා බෝධිය සම්බන්ධ මහා අධිෂ්ඨාන **තුන** නම් කරන්න. (ලකුණු 06 යි)
   (ආ) ශ්‍රී මහා බෝධි ශාඛාව ලක්දිවට වැඩමවීම පිළිබඳ ව කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (ඉ) ශ්‍රී මහා බෝධිය වැඩමවීමෙන් පසු ලක්දිව ඇති වූ සංස්කෘතික හා ශාස්ත්‍රීය ප්‍රබෝධය පිළිබඳ ව කෙටි සටහනක් ලියන්න. (ලකුණු 08 යි)

[ දෙවන පිටුව බලන්න.

**7.** (අ) මහා විහාරයේ ආරම්භය හා වර්ධනය කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(ආ) මහා විහාරයට අනුබද්ධ තවත් ආයතන **තුනක්** නම් කරන්න. (ලකුණු 06 යි)

(ඉ) "මහා විහාරය ලක්දිව බෞද්ධ සංස්කෘතියේ මධ්‍යස්ථානය වූවා පමණක් නොව සමකාලීන යුගයේ අන්තර්ජාතික කීර්තියක් අත්කරගත් ආයතනයක් ද විය." මේ ප්‍රකාශය සනාථ කරන්න. (ලකුණු 08 යි)

**8.** පහත සඳහන් මාතෘකා අතුරෙන් **හතරක්** තෝරාගෙන කෙටි සටහන් ලියන්න.

(i) මගධ රාජ්‍යය

(ii) බිම්බිසාර රජතුමා

(iii) දස අකැප වස්තුව

(iv) සිවුවන ධර්ම සංගායනාව

(v) ලක්දිව භික්ෂුණී ශාසනය

(vi) දළදා පූජෝපහාර විධි

(vii) අභයගිරි විහාරයේ ආරම්භය

(viii) අනුරාධපුරයේ ජේතවන විහාරය

(ලකුණු 05 × 4 = 20 යි)

***